මුද්දර නිවේදන අංකය
முத்திரைச் செய்தித் தாள் இல.
**Stamp Bulletin No.** 674

විශේෂ නිකුත් කිරීම
விசேட வெளியீடு
**Special Issue**




# පසු අනුරාධපුර යුගය
## கடந்த அநுராதபுர யுகம்
## Late Anuradhapura Era

**2008.09.16**

**Philatelic Bureau**
Department of Posts,
Postal Headquarters, D. R. Wijewardena Mawatha, Colombo 01000, SRI LANKA.

මුද්දර කාර්යාංශය,
තැපැල් දෙපාර්තමේන්තුව,
තැපැල් මූලස්ථානය,
ඩී. ආර්. විජේවර්ධන මාවත, කොළඹ 01000.

முத்திரைப் பணியகம்,
அஞ்சல் திணைக்களம்,
அஞ்சல் தலைமையகம்,
டீ. ஆர். விஜேவர்தன மாவத்தை, கொழும்பு 01000.

තැපැල් දෙපාර්තමේන්තුව,
තැපැල් මූලස්ථානය,
ඩී. ආර්. විජේවර්ධන මාවත,
කොළඹ 01000.

"අතීත ශ්‍රී ලංකාව" නමින් ශ්‍රී ලංකාවේ ඓතිහාසික උරුමයන් හා ලක්ෂණ විදහා දැක්වෙන මුද්දර පෙළක තුන්වන මුද්දර කාණ්ඩය ලෙස පසු අනුරාධපුර යුගයේ විවිධ අවස්ථා හා ලක්ෂණ නිරූපණය කෙරෙන රු. 5.00, රු. 10.00, රු. 15.00, රු. 20.00 හා රු. 30.00 යන වටිනාකම්වලින් යුත් නව තැපැල් මුද්දර පහක් ශ්‍රී ලංකා තැපැල් දෙපාර්තමේන්තුවේ මුද්දර කාර්යාංශය විසින් 2008 සැප්තැම්බර් 16 වැනි දින නිකුත් කෙරේ.

"අතීත ශ්‍රී ලංකාව" මුද්දර පෙළෙහි පළමු හා දෙවැනි කාණ්ඩවලින් නිකුත්වූ ප්‍රාග් ඉතිහාසය, පූර්ව ඉතිහාසය සහ මුල් අනුරාධපුර යුගය හා සැබැඳි මුද්දරවලින් ශ්‍රී ලාංකීය ජනතාව අදින් වසර එක් ලක්ෂ විසිපන්දහසකට (1,25,000) පමණ පූර්වයෙහි සිට ක්‍රම ක්‍රමයෙන් ජීවන රටාව වර්ධන කොට ගනිමින් සිය චින්තන ශක්තිය මෙහෙයවමින් අනුරාධපුර අවධියේ වූ ස්වර්ණමය සභ්‍යත්වයට පියනැගූ ආකාරය නිරූපණය කෙරිණි. ප්‍රාග් ඓතිහාසික මානවයා තම චින්තනය මෙහෙයවමින් ඉදිරියට ආ ගමන් මග සනිටුහන් කරමින් බටදොඹ ලෙන, කිතුල්ගල බෙලි ලෙන, පාහියංගල ලෙන ආදී ස්ථාන රැසකින් තොරතුරු සමූහයක් අනාවරණය වී ඇත. ඉන් නව ශිලා යුගයට පිළිපන් වගා බිම් පිළිබඳ සාධක හෝර්ටන් තැන්නෙන් අනාවරණය විය. අදින් වසර 15,000 කට ප්‍රථම ලංකාවේ විසූ ආදී මානවයා ගොවිතැනට හුරුවූ බවට සාධක හමුවිය. පූර්ව ඓතිහාසික යුගයේදී යකඩ භාවිතය ද අරඹමින් ඉන් අනතුරුව අනුරාධපුර අග නගරය කේන්ද්‍ර කර ගනිමින් ආගමික, දේශපාලනික, ආර්ථික හා සමාජීය වශයෙන් විශිෂ්ට ගමනක පියසටහන් තැබීය. ලාංකිකයා කි. පූ. 6 වන සියවසේ දී පමණ සිදුවූ ආර්ය සංක්‍රමණයන්ද මෙයට දායක විය. උසස් වාරි තාක්ෂණයකට ද, උරුමකම් කියූ බව අනුරාධපුර මුල් අවධියේ තොරතුරුවලින් අනාවරණය වී ඇත.

පසු අනුරාධපුර යුගයේ දී ගෙවීගිය කාල පරිච්ඡේදය මුල් කාලය හා සැසඳීමේ දී බෙහෙවින් අවුල් වියවුල් සහිත කාල වකවානුවක් විය. ඊට ප්‍රධාන සාධකය වූයේ වරින් වර එල්ලවූ දකුණු ඉන්දීය ආක්‍රමණයන්ය. ඒ අතර, අභ්‍යන්තර කැරලි කෝලාහල මෙන්ම දුර්වල පාලනය ද ඊට හේතු නොවූවා නොවේ. එහෙත් යම් යම් රාජ්‍ය කාලවල දී රටට සාමකාමී වතාවරණයන් ද උදාවිය. මෙවැනි වාතාවරණයක වුවද කලා ශිල්ප, වාස්තු විද්‍යාව හා වාරි තාක්ෂණ ආදිය වඩා පරිනත මට්ටමකට පැමිණෙන අයුරු දැකිය හැකිය. මුල් අනුරාධපුර යුගය හරහා වර්ධනය වූ කලා හා වාස්තු විද්‍යාත්මක නිර්මාණ විශිෂ්ට තත්ත්වයකට පත්වීම පසු අනුරාධපුර අවධියේ දී දැකිය හැකිවිය. වාරි තාක්ෂණය ද උච්චස්ථානයට පත්වූයේ මෙම අවධියේ දී බව බ්‍රෝහියර් මහතා පෙන්වා දෙයි.

පසු අනුරාධපුර යුගය ලාංකිය වාස්තු විද්‍යාවේ සුවිශේෂී නිර්මාණ බිහිවූ කාල වකවානුවක් සේ සැලකිය හැකිය. එහෙත් වාස්තු විද්‍යාත්මක නිර්මාණ සඳහා බහුල



2-CM9552

වශයෙන් උපයෝගිකොටගත් දැව වෙනුවට වඩා ස්ථිර ගොඩනැගිලි ද්‍රව්‍ය වන ගල් සහ ගඩොල් වැඩි වශයෙන් උපයෝගිකොට ගත් බව පෙනී යයි. ගොඩනැගිලිවලට නව වාස්තු විද්‍යාත්මක අංග එකතුවිය. ප්‍රතිමා ගෘහ වඩාත් සංකීර්ණ නිර්මාණ සේ බිහිවිය. එතෙක් පැවති දාගැබේ චතුරාවලිය කොත්කැරැල්ලක් බවට පරිවර්තනය වූයේද පසු අනුරාධපුර අවධියේදීය. ඒ අතර ථූපසර හා බෝධිසර විශේෂ නිර්මාණ විය. ථූපසර හෙවත් වටදාගෙය වඩාත් ආකර්ෂණීය ලෙස නිමැවීම මෙකල දැකිය හැකි විය. මැදිරිගිරිය වටදාගෙය, තිරියාය වටදාගෙය මේ සඳහා විශිෂ්ට නිදසුන් වෙයි.

මේ කාල පරිච්ඡේදය තුළ මහායාන බුදුදහම වර්ධනීය තත්ත්වයකට පත්වීමේ ප්‍රවණතාවක් දක්නට හැකිය. බොහෝ බෞද්ධ ආරාම සංකීරණයන්හි බෝධිසත්ව ප්‍රතිමා නිර්මාණය වීම බෝධිසත්ව වන්දනාව ලාංකීය ජනතාව අතර වඩා ප්‍රචලිත වීම මත සිදුව තිබේ. කුඩා ලෝහ ප්‍රතිමාවල සිට සුවිසල් ගල් පිළිම දක්වාවූ විවිධ මට්ටමේ බෝසත් ප්‍රතිමා දිවයින පුරාම නිර්මාණය වූයේ පසු අනුරාධපුර අවධියේදය. ඒ අතරින් බුදුරුවගල, දඹෙගොඩ, කුෂ්ඨරාජගල, වෙහෙරගල වැනි ස්ථානවලින් ලැබී ඇති ප්‍රතිමා ප්‍රමුඛස්ථානයක් ගනී.

පාංශකුලික හෙවත් වනවාසී භික්ෂූන් වෙනුවෙන් නිර්මාණය වූ ආරාම සංකීර්ණ විශේෂයක් වන පධානඝර (පියංගල්) බිහිවන්නේ ද පසු අනුරාධපුර සමයේ දී බව අනාවරණය වී තිබේ. විශේෂයෙන්ම අනුරාධපුර මුල් අවධියේ දී නගරය ආශ්‍රිතව තිබූ නීච සුසානය පිහිටි ප්‍රදේශය ආශ්‍රිතව බිහිවූ බටහිරාරාම ලෙස හඳුන්වනු ලබන ගොඩනැගිලි සංකීර්ණය මෙම කාලයට අයත් ය. පාංශකුලික භික්ෂූන් සඳහා ප්‍රථම වරට ආරාමයක් තනවන ලද්දේ මානවම්ම රජු (ක්‍රි. ව. 684-718) විසිනි. අල්පේච්ඡ ජීවිතයකට ගැළපෙන්නාවූ මෙම ගොඩනැගිලි අලංකරණයෙන් සම්පූරණයෙන්ම තොරවෙයි. මේවායෙහි කැසිකිලිගල්වලට පමණක් කැටයම් යෙදීමෙන් නිරූපණය වන්නේ සියලු සැප සම්පත් බැහැර කිරීම. පහත් සේ සැලකීම බව අදහස් කරයි. අනුරාධපුර නගරයට බාහිරව රිටිගල, අරංකැලේ, හත්ථිකුච්ඡි විහාරය, මානාකන්ද, ගුරුළුපොත වැනි ස්ථානවලින්ද පධානඝර සංකීරණ හමුව තිබේ.

අනුරාධපුරයේ අද දක්නට ලැබෙන කලා නිර්මාණ අතරින් විශිෂ්ට මට්ටමේ ලා සැලකෙන නිර්මාණයන්ගෙන් වැඩි කොටසක් පසු අනුරාධපුර යුගයට අයත් ඒවා වෙයි. කැටයම්වලින් පිරිපුන් අලංකාරතම සඳකඩ පහන්, මුරගල් හා කොරවක්ගල් ආදී නිර්මාණ සියල්ලක්ම මේ කාලයේ බිහිවූවෝ වෙත්. ප්‍රමුඛස්ථානයේ ලා සැලකෙන නිර්මාණයන් වූ රත්නප්‍රසාද මුරගල්, ඒ අසල ඇති අලංකාර සඳකඩ පහන්, ථූපාරාමය අසල කැටයමින් අනූන කොරවක්ගල් ආදිය ද පසු අනුරාධපුර අවධියේ නිර්මාණයන් ය. පල්ලව හා ගුප්ත කලා සම්ප්‍රදායන්හි ආභාසයද මෙකල කලා නිර්මාණ හා මුසුව තිබේ. ඉසුරුමුණියේ ඇති රජ පවුල හා පෙම් යුවල ලෙස නම් කළ කැටයම් එකල මේ සඳහා නිදසුන් වෙයි.



පසු අනුරාධපුර සමය නියෝජනය කරන්නාවූ බිතුසිතුවම් රාශියක්ද දිවයිනේ ස්ථාන කිහිපයකින්ම හමුව තිබේ. පුල්ලිගොඩ, මහියංගන ධාතු ගර්භය, මාරාවීදිය, වෙස්සගිරිය, ගොනාගොල්ල, කරඹගල, කොටියාගල, සීගිරිය පර්වත ප්‍රාන්තයේ ඇති ලෙන්, සිතුල්පව්ව ආදී ස්ථාන සමූහයකින් ක්‍රි. ව. 5 සියවසේ සිට ක්‍රි. ව. 11 සියවස අතර කාලයට අයත් බිතුසිතුවම් අනාවරණය වී තිබේ.

මෙකල වූ කලාත්මක හා වාස්තු විද්‍යාත්මක දියුණුවේ උච්චතම අවස්ථාව නියෝජනය කරන්නාවූ නිර්මාණ අනුරාධපුරයේ පමණක් නොව සමස්ත දිවයිනම ආවරණය වන පරිදි සිදුවූවක් බව නන් දෙසින් හමුවන සාධකයන් මගින් සනාථ වෙයි.

මෙකල භාවිතාවූ මිල මුදල් පිළිබඳ විමසීමේදී රන් කහවනුව විශේෂයෙන් සඳහන් කල යුත්තකි. රන් කහවනුව ක්‍රි.ව. 8 වන සියවසේ සිට එකොළොස්වන සියවස පමණ දක්වා භාවිතා කළ කාසි විශේෂයකි. මෙයටම අයත් බරින් අඩු කුඩා කාසි කිහිපයක් ද වේ. දිවයිනේ තැනින් තැන රන් කාසි හමු වී ඇති අතර අභයගිරි කැණීම් මගින් හමුවූ සාධක එහිදී විශේෂත්වයක් දරයි. අභයගිරි දාන ශාලාවට නැගෙනහිරින් වූ සංඝාරාමය අසල පිහිටි පොකුණ කැණීමේ දී එහි වයඹදිග ඉවුරේ පැරණි කම්හලක නටඹුන් හමුව තිබේ.

ඉන් ස්වර්ණ ඵලක පිණ්ඩ පහක් හා රන් කහවණු විසි දෙකක් හමුවිණ. මේ රන් පිණ්ඩ සියල්ලෙහිම 8-9 සියවස්වලට අයත් සිංහල අක්ෂරයෙන් ඒවායේ බර සඳහන් කර තිබේ. විශාලතම පිණ්ඩයෙහි "එකසිය දෙකලන්දයි" යනුවෙන් සඳහන් ය. පොකුණට නැගෙනහිර දෙසින් වූ ස්ථානයකින් රන් කහවණු නිපදවීමට යොදාගත් කිරි මැටියෙන් සැදූ කාසි අච්චුද හමුවී තිබේ. මෙම කාසි අච්චුද ක්‍රි. ව. 9 සියවසට පමණ අයත් ය. කාසියේ අභිමුඛය හා ප්‍රතිමුඛයන්හි සඳහන් සටහන් හා සංකේත නිර්මාණය සඳහා පියන් දෙකක් ලෙස සාදා ඇති මෙම කාසි අච්චු තුළට උණුකල රන් පිරවීම සඳහා පුනීලයක හැඩයෙන් යුතු කුඩා විවරයක් ද වෙයි.

රන් කාසි මෙන්ම රන් අභරණ නිර්මාණයේ විශිෂ්ටතම සාධක හා වෙනත් විවිධ ආභරණ සමූහයක් අභයගිරි හා ජේතවන විහාර කැණීම් මගින් හමුවී තිබේ. අභයගිරියෙන් හමුවූ අඹගෙඩියක හැඩැති ලෝහ මංජුසාවක තිබී රන්කරුවෙකුට අයත් වැඩ නිම නොකළ රන් භාණ්ඩ රැසක් හමු විය. ඒ අතර රන් මාල පෙති සහ රන් කෙන්දෙන් වියන ලද විශිෂ්ට ගණයේ මාලයක් ද විය. සියුම් කැටයම් සහිත රන් වලල්ලක් හා පාසළඹ දෙකක් ද අභයගිරියෙන් හමුවී තිබේ. ජේතවනාරාම සංකීර්ණයෙන් ද ඉතා සියුම් ලෙස කැටයම් කල රන් ආභරණ කොටස් හමුවී ඇත. මේ ඇතැම් ආභරණ බෝසත් ප්‍රතිමා සඳහා යොදා ගත් ඒවදනා බව ඇතැම් විද්වතුන් අදහස් පළ කරයි. රන් ආභරණ මෙන්ම මැටි පබළු, වීදුරු පබළු, කානිලියන් බණිජයෙන් කරන ලද පබළු අති විශාල ප්‍රමාණයක් අනුරාධපුර කැණීම්වලින් හමුවී තිබේ. මෙවා එකල නිර්මාණ ශිල්පීන්ගේ කලා කෞශල්‍ය මැනවින් සනාථ කරනු ලබයි.

ශ්‍රී ලාංකීය වාරි තාක්ෂණය උච්චතම අවස්ථාවට පැමිණෙන්නේ පසු අනුරාධපුර අවදියේ දී ය. දෙවැනි මුගලන් රජු (ක්‍රි.ව. 532-551) පළවෙනි අග්‍රබෝධි රජු (ක්‍රි. ව. 571-604) දෙවෙනි අග්‍රබෝධි රජු (ක්‍රි.ව. 604-614), දෙවෙනි මහින්ද රජු (ක්‍රි. ව. 777-797) දෙවෙනි සේන රජු (ක්‍රි. ව. 853-887) හා දෙවෙනි උදය රජු (ක්‍රි. ව. 887-898) පසු අනුරාධපුර යුගයේ වාරි කර්මාන්තය කෙරෙහි සුවිශේෂී මෙහෙයක් ඉටුකළ රජවරුන් වෙති. ගංගාතටවාපි හෙවත් ගඟතලාවැව (කන්තලේ), ගිරිතට වාපි හෙවත් ගිරිතලේ වැව, ඒරණ්ඩගල්ල වාපි හෙවත් එඬේරගල වැව නිමවූයේ දෙවෙනි අග්‍රබෝධි රජ විසිනි. මේ කාල පරිච්ඡේදය තුළ එවකට පැවති වැව් හා වාරිමාර්ග පද්ධති ප්‍රතිසංස්කරණය කිරීම බොහෝ රජවරුන් විසින් සිදුකරන ලදී. 4 වෙනි මහින්ද රජු (ක්‍රි. ව. 956 සිට 972) නටඹුන් වැව් ප්‍රතිසංස්කරණය කිරීමෙන් ලත් ජලයෙන් ලක්දිව ආහාර හිඟය මග හැරවූ බව සඳහන්වේ. ලක්දිව වාරි කාර්මාන්තය ශ්‍රේෂ්ඨ ව්‍යාපාරයක් ලෙස මෙකල ක්‍රියාත්මක විය. වාරිතාක්ෂණය පිළිබඳ උසස් කාර්මික ඥාණය ශිල්පීන් සතුවිය.

මේ අවදියේ දී පැවති සෞඛ්‍ය හා සනීපාරක්ෂක විධි ක්‍රම ද සැලකිය යුතු වෙයි. "ජන්තාගාරය" මෙහි දී විශේෂයෙන් සඳහන් කළ යුත්තකි. වයෝවෘද්ධ හා ගිලන් භික්ෂූන් හට උණු පැන් ස්නානය සඳහා සැකසුනු මෙම ගොඩනැගිල්ල ප්‍රකට බෞද්ධ සංඝාරාම කිහිපයකම දැකිය හැකිවේ. අනුරාධපුර ආරාම සංකීරණයන්ට අමතරව රිටිගල, අරංකැලේ, හත්තිකුච්චි විහාරය ආදී ස්ථානවල මෙවැනි ජන්ථාඝර ඉදිකර තිබිණ. උණු පැන්වලට අමතරව බෙහෙත් වර්ග අඹරා ගැනීමට යොදාගත් ඇඹරුම්ගල් ද මේවායේ දක්නට ලැබෙයි. කැසිකිල සඳහා යොදාගත් ක්‍රමවේදය ද පරිසර හිතකාමී විය. වැසිකිලි හා කැසිකිලි වෙනම ඉදිකර තිබිණ. කැසිකිලි සැකසීමේ දී පිටවන මුත්‍රා පසට මුදාහැරියේ ද පිරිසිදු ජලය ලෙසිනි.

කැසිකිලි ගලෙන් ගලායන මුත්‍රා ගමන් කරනුයේ එකමත එක තබන මුට්ටිවලට ය. මේ මගින් පෙරී යන මුත්‍රා ගමන් කරනුයේ ගැඹුරු පොළවට ය. එකල සෞඛ්‍ය හා ස්වස්ථාව කෙරෙහි විශේෂ අවධානයක් යොමු කළ බව ඉන් මනාව පැහැදිලිවේ.

සමස්තයක් ලෙස ගත්කල පශ්චාත් අනුරාධපුර අවධිය තුල දී වරින් වර එල්ලවූ ආක්‍රමණ ආදියෙන් අවුල් වියවුල් ඇති වුවද වසර ගණනාවක් ගලා ආ සම්භාව්‍ය සංස්කෘතිය උපරිම තත්ත්වයකට ලඟාවිය. සියවස් පහලවක් පමණ දීර්ඝ කාල පරිච්ඡේදයක් තුල වර්ධනයවූ එකී සභ්‍යත්වය එකොළොස්වන සියවසේ දී පරිහානියට පත්විය. අභ්‍යන්තර අරගල හා ක්‍රි. ව. 993 දී සිදුවූ චෝල ආක්‍රමණයත් සමග අනුරාධපුර යුගය නම් ශ්‍රී ලංකා ඉතිහාසයේ ස්වර්ණමය කාලපරිච්ඡේදය හමාර විය. චෝල ප්‍රතිරාජයා තම අගනුවර පොළොන්නරුවෙහි පිහිටුවීමෙන් එතෙක් සිංහල රාජ්‍යයේ අග නගරය බවට පත්ව තිබූ අනුරාධපුරයට එය අහිමිව ගියේය.

**මැදිරිගිරිය වටදාගෙය**

මැදිරිගිරිය විහාරය මුල් අනුරාධපුර යුගයේ සිටම පැවති ප්‍රධාන බෞද්ධ සංඝාරාමයකි. ක්‍රි. ව. 2 වන සියවසේ දී කණිට්ඨතිස්ස රජු (ක්‍රි. ව. 167-186) මණ්ඩලගිරි විහාරයට



සීමාමාලකයන් තැනවූ බව කියවෙන මහාවංශ සඳහන මැදිරිගිරිය පිළිබඳ හමුවන පැරණිතම මූලාශ්‍ර සටහනයි. ක්‍රි. ව. 7 වන සියවසේ දී හතරවන අග්‍රබෝධි රජු කාලයේ මලයරාජ නැමැත්තෙකු විසින් මෙහි තිබූ දාගැබට අලංකාර වටදාගෙයක් කරවූ බව සඳහන් වෙයි. මෙම වටදාගෙය පසුකාලීන රජවරු විසින් ද ප්‍රතිසංස්කරණය කොට තිබේ. මණ්ඩලගිරි විහාරය ක්‍රි. ව. 13 වන සියවස දක්වාම වැදගත් බෞද්ධ මධ්‍යස්ථානයක්ව පැවති බවට තොරතුරු හමුවේ.

මෙම විහාර සංකීරණයේ ඇති විශිෂ්ඨතම වාස්තු විද්‍යාත්මක ඉදිකිරීම වටදාගෙයයි. මධ්‍යයේවූ කුඩා දාගැබ ආවරනය වන පරිදි වෘත්තාකාර උස් වේදිකාවක ඉදිකළ වටදාගෙය ලංකාවේ ඇති වටදාගෙවල් අතුරින් වාස්තුවිද්‍යාත්මක අලංකාරත්වය අතින් ප්‍රමුඛස්ථානයක් උසුලයි. මෙම මුද්දරයෙන් පිළිබිඹු වන්නේ දැනට ඉතිරිව ඇති මෙම වටදාගෙයෙහි කොටස් සහ එම වටදාගෙය පැරණි තිබුණු ආකාරය පිළිබඳ අධ්‍යයනකින් පසු සිදුකරන ලද නිර්මාණාත්මක සැලසුමකි.

**බුදුරුවගල බෝසත් ප්‍රතිමා හා ඉසුරුමුණිය රජ පවුල කැටයම**

ශ්‍රී ලංකාවේ මහායාන ප්‍රතිමා අතර බුදුරුවගල පර්වතයක නෙලන ලද බෝධිසත්ව ප්‍රතිමා විශිෂ්ඨ මට්ටමක පවතී. අර්ධ උන්නතව මතුකොට පසුව හුණු බදාම මගින් සම්පූර්ණ කර වර්ණ ගන්වා තිබූ බවට සාධක තවමත් ශේෂව පවතී. මෙහි දැක්වෙන්නේ එම ප්‍රතිමා අතර ඇති අවලෝකිතේශ්වර මෛත්‍රිය හා වජ්‍රපානි බෝධිසත්ව රූප ත්‍රිත්වයයි. මෙම ප්‍රතිමා ක්‍රි.ව. 8-9 සියවස් අතර කාලයට අයත්යැයි සැලකේ.

පළමුව රන්මසු උයනෙහි තිබෙන්නට ඇතැයි ද දැනට ඉසුරුමුණිය විහාරයෙහි කෞතුකාගාරයේ තැන්පත් කර ඇති රජ පවුල ලෙස හඳුන්වනු ලබන කැටයම් ඵලකය ශ්‍රී ලංකාවේ ඇති අග්‍රගන්‍ය කැටයමකි. ගුප්ත මූර්ති කලාවේ ආභාෂය පෙන්නුම් කෙරෙන මෙම කැටයම් අතිශයින් සුන්දරය. මෙහි දුටුගැමුණු රජු සිය බිසව සමග සාලිය කුමරුගේ මාලිගයට ගොස් සාලිය - අශෝකමාලා දෙදෙනා සමග පිළිසඳරේ යෙදී සිටින අයුරු නිරූපනය වන්නේ යැයි මහාචාර්ය සෙනරත් පරණවිතාන පවසයි.

**රන් කහවනු, කාසි අච්චුව හා සවර්ණ ඵලක පිණ්ඩය.**

රන් කහවනු ක්‍රි. ව. 8 වන සියවසේ සිට එකොළොස්වන සියවස පමණ දක්වා ලංකාවේ භාවිතා කළ කාසි විශේෂයකි. රන් කහවනුවටම අයත් කුඩා රන් කාසි කිහිපයක් ද වෙයි. කහවනුවේ භාගය (1/2) "අඩ කහවණුව" ලෙසත්, කහවණුවෙන් කාල (1/4) දෙඅක හෙවත් "පලය" ලෙසත් කහවනුවෙන් 1/8 කාසිය "අක" ලෙසද හඳුවන්වනු ලබයි. මේ අතරින් "අක" කාසිය ක්‍රි. ව. 15 වන සියවස පමණ වනතෙක් භාවිතා කල බවට තොරතුරු ලැබේ. කාසිවල අභිමුඛයේ සහ ප්‍රතිමුඛයේ සටහන් හා ලාංඡන පිළිබඳ විවිධ මතවාද ඉදිරිපත්වී තිබේ. කිසිම කාසියක නිකුත් කළ වර්ෂය හෝ රජුගේ නාමය සඳහන්

නොවේ. මෙම කාසි පියන් දෙකක් සේ සැකසූ මැටි අච්චුවකට උණුකල රන් පිරවීම මගින් නිර්මාණය කොට තිබේ.

"ස්වර්ණ ඵලක පිණ්ඩ" ලෙස හඳුන්වන්නේ අභයගිරි කැණීම් මගින් ලැබුණ රන් කුට්ටි කිහිපයකි. මේවායේ බර එහිම සටහන්කර තිබේ. රන් කාසි විසි දෙකක් සමග ස්වර්ණ ඵලක පිණ්ඩ පහක් හමුවීම මගින් මෙම පිණ්ඩ රන් කාසි නිපදවීම සඳහා යොදා ගන්නට ඇතැයි සිතිය හැකි වෙයි.

### කැසිකිලිගල

පාංශකූලික භික්ෂූන් සඳහා වෙන්වුණු බටහිරාරාම පධානඝර සංකීර්ණයට අයත් කැසිකිලි ගලකි. මෙම පධානඝරවල කැටයමින් සැරසූ එකම නිර්මාණය කැසිකිල ගලයි. මේවායේ කැසිකිලි ගලට පමණක් කැටයම් යෙදීමෙන් නිරූපනය කෙරෙන්නේ සියලු ලෞකික සැප සම්පත් බැහැර කිරීම නැතහොත් පහත් කොට සැලකීම බව විද්වතුන්ගේ අදහසයි.

කැසිකිලියේ වල ලෙස යොදා ඇත්තේ එක මත එක තබන ලද මැටි බරණී කිහිපයකි. ඒවායේ අභ්‍යන්තරයෙහි පිරවූ ද්‍රව්‍ය හරහා පෙරී යන මුත්‍රා පසට එක් වන්නේ පිරිසිදු ජලය ලෙසිනි. එකල සෞඛ්‍ය හා සනීපාරක්ෂාව කෙරෙහි දැක්වූ ප්‍රමුඛතාවය මෙන්ම එහි තාක්ෂණය ද විශිෂ්ඨ ය.

### ආභරණ

අභයගිරියෙන් ලැබුණු මෙම ආභරණ එකල ස්වර්ණාභරණ ඥාණය විදහාපාන විශිෂ්ඨ නිර්මාණයන් ය. පෙත්ත සහිත කරමාලයක්, වලල්ලක් හා පාපළඳනාවක් මෙහි ඇතුළත්වේ. මේවායේ ඇති ඉතා සියුම් කැටයම් කලාකරුවාගේ නිර්මාණශිලීතාවය ප්‍රකට කරයි. මාලය රන් කෙඳි මගින් සැකසූ විශිෂ්ඨ නිර්මාණයකි.

පසුබිමෙහි වන මැටි පබළු යෙදූ මාලය ජේතවන විහාර සංකීරණයෙන් හමුවූවකි. මේ සියල්ල පසු අනුරාධපුර සමයට අයත්සේ සැලකේ.



## මුද්දර පිළිබඳ විස්තර

| | | |
|---|---|---|
| නිකුත් කරන දිනය | : | 2008 සැප්තැම්බර් මස 16 වැනි දින |
| වටිනාකම් | : | රු. 5.00, රු. 10.00, රු. 15.00, රු. 20.00 සහ රු. 30.00 |
| සැලසුම්කරු | : | බැසිල් කුරේ (රු. 5.00, රු. 20.00)<br>ගාමිණී අබේකෝන් (රු. 10.00, රු. 15.00, රු. 30.00) |
| ප්‍රමාණය | : | මි. මී. 60 x මි. මී. 30 |
| හැඩය | : | තිරස් |
| මුද්‍රණ ක්‍රමය | : | ඕෆ්සෙට් ලිතෝග්‍රැෆි |
| පත් සැකැස්ම | : | පත්‍රිකාවක මුද්දර 08 බැගින් |
| සිදුරු ප්‍රමාණය | : | 12 |
| මුද්‍රණකරුවෝ | : | රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුව, ශ්‍රී ලංකාව |
| වර්ණ | : | හතරයි |
| කඩදාසි වර්ගය | : | 102 ජී. එස්. එම්. ආරක්ෂිත මුද්දර මුද්‍රණ කඩදාසි |
| මැලියම් | : | පීවීඒ |
| මුද්‍රණය කළ ප්‍රමාණය | : | 5.00 - 1,000,000<br>10.00 - 500,000<br>15.00 - 1,000,000<br>20.00 - 500,000<br>30.00 - 500,000 |
| විසිතුරු තිළිණ පත් | : | 2000 |
| අලෙවිකරන අවසන් දිනය | : | 2009.09.15 |

***පසුගිය නිකුත් කිරීම***

සේවක අර්ථසාධක අරමුදල - 2008.09.11

அஞ்சல் திணைக்களம்,
அஞ்சல் தலைமையகம்,
டீ. ஆர். விஜேவர்தன மாவத்தை,
கொழும்பு 01000.

"முற்கால இலங்கை" என்ற பெயரில் இலங்கையின் வரலாற்று மரபுரிமையையும், வனப்பையும் பிரதிபலிக்கும் முத்திரை வரிசையின் மூன்றாவது தொகுதியாக பிற்பட்ட அனுராதபுர யுகத்தின் பல்வேறு கட்டங்களையும், வனப்பையும் எடுத்துக் காட்டும் ரூ. 5.00, ரூபா 10.00, ரூபா 15.00, ரூபா 20.00 மற்றும் ரூபா 30.00 பெறுமதிகளையுடைய ஐந்து அஞ்சல் முத்திரைகளை அஞ்சல் திணைக்களத்தின் முத்திரைப் பணியகம் 2008, செத்தெம்பர் 16 ஆந் திகதி வெளியிடுகின்றது.

"முற்கால இலங்கை" முத்திரை வரிசையின் முதலாம், இரண்டாம் தொகுதிகளில் வெளியிடப்பட்ட வரலாற்றுக்கு முற்பட்ட சரித்திரம், புராதன வரலாறு மற்றும் ஆரம்ப அனுராதபுர யுகம் என்பவை தொடர்பான முத்திரைகளின் மூலம் இற்றைக்குச் சுமார் ஓரிலட்சத்து இருபத்தையாயிரம் (ரூ. 1,25,000) ஆண்டுகளுக்கு முன்பிருந்து இலங்கை மக்கள் தம் வாழ்க்கை விருத்தியைப் படிப்படியாக வளர்த்துக் கொண்டு, தமது சிந்தனா சக்தியைப் பயன்படுத்தி அனுராதபுர யுகமாகிய பொற்காலப் பண்பாட்டுக்கு அடி யெடுத்துவைத்தமை நிரூபணமாகியுள்ளது. வரலாற்றுக்கு முற்பட்ட மனிதன் தம் சிந்தனையை மேலும் முன்னெடுத்துச் சென்றதை பட்டதொம்ப லென (குகை), கித்துல்கல பெலி லென (குகை), பாஹிங்கல லென (குகை) ஆகியவற்றிலிருந்து கிடைக்கப்பெற்ற தகவல்களிலிருந்து அறிய முடிகின்றது. புதிய கற்கால யுகத்தின் வேளாண்மை நிலம் பற்றிய சான்றுகளை ஹோட்டன் சமவெளியிலிருந்து பெறமுடிந்தது. இற்றைக்கு 15.000 ஆண்டுகளுக்கு முன்பு இலங்கையின் ஆதி மனிதன் கமத்தொழிலுக்குப் பழக்கப்பட்டிருந்தமைக்கான சான்றுகள் கிடைக்கப்பெற்றுள்ளன. அவன் வரலாற்றுக்கு முற்பட்ட யுகத்தில் இரும்புப் பாவனையை ஆரம்பித்ததுடன், அதன் பின்னர் அனுராதபுரத்தைத் தலைநகரமாக கேந்திரப்படுத்தி சமய, அரசியல், பொருளாதார, சமூகத் துறைகளில் பிரமிக்கத்தக்க முன்னேற்றப் பாதையில் அடியெடுத்து வைத்துள்ளான். கி. பி. 6 ஆம் நூற்றாண்டில் ஏற்பட்ட ஆரியர் வருகையும் இதற்குப் பங்களிப்புச் செய்துள்ளது. சிறந்த நீர்ப்பாசனத் தொழில் நுட்பத்துக்கு உரிமைபெற்றதனை அனுராதபுரத்தின் ஆரம்பக் காலகட்டச் சான்றுகள் காட்டுகின்றன.

பிற்பட்ட அனுராதபுர யுகத்தின் ஆரம்பகாலம் பெரும்பாலும் சண்டை சச்சரவுகள் இருந்த காலமாகும். அதற்குப் பிரதான காரணியாக அமைந்தது தென்னிந்திய ஆக்கிரமிப்பாகும். இதற்கிடையே உள்நாட்டிலும் கலகங்களும், குழப்பங்களும் நிலவியதோடு, பலவீனமாக நிர்வாகமும் அதற்குக் காரணமானதென்பதை மறந்துவிட முடியாது. எனினும் சில அரசர் காலத்தில் நாட்டில் அமைதியான சூழ்நிலையும் நிலவியது. இந்த விதமான சூழ்நிலையிலும் கூட சிற்பக்கலை, கட்டடக் கலை,



நீர்ப்பாசனவியல் என்பன மேலும் பூரணத்துவம் பெறும் நிலை உருவாகியதைக் காண முடிந்தது. ஆரம்ப அனுராதபுர யுகத்தில் வளர்ச்சிபெற்ற கலையும், கட்டடக் கலையும் மிகச் சிறந்த மட்டத்துக்கு உயர்ந்ததை பிற்பட்ட அனுராதபுர யுகத்தில் காணக்கூடியதாயிருந்தது. நீர்ப்பாசனத் தொழில்நுட்பமும் அதியுன்னத நிலையை அடைந்தது இந்தக் காலகட்டத்திலேயே என்று புறோகியர் அவர்கள் சுட்டிக்காட்டுகின்றார். பிற்பட்ட அனுராதபுர யுகத்தை இலங்கைக் கட்டடக் கலையின் அதியுன்னத நிர்மாணங்கள் தோற்றுவிக்கப்பட்ட கால கட்டமாகக் கருத முடியும். ஆயினும் கட்டடக் கலை நிர்மாணங்களுக்காகப் பரந்தளவில் பயன்படுத்தப்பட்ட மரங்களுக்குப் பதிலாக நிலையான கட்டடப் பொருட்களான கல், செங்கல், போன்றவை அதிகளவில் உபயோகிக்கப்பட்டதாகத் தெரிகின்றது. கட்டடங்களில் புதிய கட்டடக் கலை அம்சங்கள் சேர்க்கப்பட்டன. அத்துடன் திருவுருவ மண்டப அமைப்பு முறையும் பரிணமித்தது. அதுவரை வட்ட வடிவிலமைந்த தாகபைகள் கோபுர வடிவத்துக்கு மாற்றமடைந்ததும் பிற்பட்ட அனுராதபுர யுகத்திலேயே ஆகும். இதற்கிடையே தாதுகோபுரங்களும், போதிமரத்தைச் சுற்றிய கட்டட அமைப்பும் விசேட நிர்மாணங்களாகத் தோன்றத் தொடங்கியன தாதுகோபுரங்கள் அல்லது வட்டதாகெய பெரிதும் கவர்ச்சிகரமானதாக கட்டட முறையில் அமைந்ததையும் இக்காலகட்டத்தில் காணக்கூடியதாயிருந்தது. மெதிறிகிரி வட்டதாகேயும் திரியாய வட்டதாகேயும் இவற்றில் விசேடமானவை.

இக்காலகட்டத்தில் மகாயான புத்த தர்மம் வளர்ச்சிபெற்ற நிலையை எய்தியது. பெரும்பாலான பௌத்தராம தொகுதிகளில் போதிசத்துவர் சிலைகள் நிர்மாணிக்கப்பட்டமை போதிசத்துவர் வணக்கம் இலங்கை மக்களிடையெ பெரிதும் பரவியதனூடாக நிகழ்ந்தது. சிறிய உலோகச் சிலைகள் உட்பட பாரிய கற்சிலைகள் வரையான பல்வேறு மட்டத்திலான சிலைகள் தீவெங்கணும் உருவாக்கப்பட்டது பிற்பட்ட அனுராதபுர யுகத்திலாகும். இவற்றிடையெ புதுருவகல, தம்பேகொட, குஷ்டராஜகல, வெஹெரவகல போன்ற இடங்களில் கிடைத்தள்ள சிலைகள் முக்கியத்துவம் பெறுகின்றன.

பாங்சகுலிக அல்லது வனவாச பிக்குமார்களுக்காக நிர்மாணிக்கப்பட்ட புத்த குருமார் தங்கும் இடத் தொகுதிகளான பதானகர எனப்படும் வசிப்பிடங்கள் தோன்றியதும் பிற்பட்ட அனுராதபுர யுகத்திலென்பது தெரியவருகின்றது. விசேடமாக அனுராதபுர ஆரம்ப யுகத்தில் நகரம் சார்ந்த சுடுகாடுகள் அமைந்திருந்த பிரதேசத்தை அண்டிய பட்டஹிராராம எனப்படும் கட்டடத் தொகுதிகள் இலக்காலத்தைச் சேர்ந்தவையாகும். பாங்சகுலிக பிக்குமார்கள் தங்குவதற்காக முதன்முறையாக ஆராமை எழுப்பப்பட்டது. மானவர்ம மன்னனால் (கி. பி. 684-718) ஆகும். நிரந்தரமற்ற வாழ்க்கைக்கேற்ப அமைக்கப்பட்ட இக்கட்டடங்கள் சிற்ப வேலைப்பாடுகள் முற்றிலும் தவிர்க்கப்பட்ட விதத்தில் அமைக்கப்பட்டுள்ளன. இவற்றில் சிறுநீர் கழிக்கும் கூடங்களில் உள்ள கற்களில் மாத்திரம சிற்ப வேலைப்பாடு இருப்பதானது சகல வசதிகளையும்

துறத்தலைக் காட்டுகின்றது. அனுராதபுர நகரத்துக்கப்பால் ரிட்டிகல, அரங்கெலே, ஹத்திகுச்சி விகாரை, மானாகந்த, குருளுபொத்த போன்ற இடங்களில் பதானகரத் தொகுதிகள் காணப்படுகின்றன.

அனுராதபுரத்தில் இன்று நாம் காணும் கலை ஆக்கங்களிடையே மிகச் சிறந்த தரத்தில் வைத்து மதிக்கப்படும் கலை நிர்மாணங்களில் பெரும்பாலானவை பிற்பட்ட அனுராதபுர யுகத்தைச் சார்ந்தவை. சிற்ப வேலைப்பாடுகளில் முழுமைபெற்ற அழகியத சந்திரவட்டக்கல், காவற்கல், கொரவக்கல் போன்ற சிற்பங்கள் அனைத்தும் இக்காலத்தில் தோன்றியவையாகும். இவற்றில் பிரதான இடங்களில் கணிக்கப்படும் ரத்னபிரசாத காவற்கல், அதற்கருகிலுள்ள அழகிய சந்திரவட்டக் கல், தூபராமயவுக்கண்மையில் சிற்ப வேலைப்பாடுகள் நிறைந்த கொரவக்கல் என்பன பிற்பட்ட அனுராதபுர யுகத்தில் வடிக்கப்பட்ட நிர்மாணங்களாகும். பல்லவ, குப்த கலைச் சம்பிரதாயங்களின் செல்வாக்கும் இக்காலக் கலை நிர்மாணங்களுடன் இணைந்துள்ளன. இசுருமுனியிலுள்ள அரச குடும்பம் மற்றும் காதலர் செதுக்குச் சிற்பங்கள் என்பன இவற்றுக்குச் சான்றுகளாகும்.

பிற்பட்ட அனுராதபுர யுகத்தைப் பிரதிநிதித்துவப்படுத்தும் சுவரோவியங்கள்த பல தீவின் சில பிரதேசங்களில் கண்டுபிடிக்கப்பட்டுள்ளன. புள்ளிகொட, மகியங்கனை தாதுகோபம், மாராவீதி, வெஸ்ஸகிரி, கொனாகொல்ல, கரம்பகல, கொட்டியாகல, சிகிரியா குன்றுப் பிரதேசத்திலுள்ள குகைகள், கித்துல்பவ்வ போன்ற பல இடங்களில் கி. பி. 5 ஆம் கி. பி. 11 ஆம் நூற்றாண்டுகளுக்கிடையேயான காலகட்டத்தில் இச்சுவரோவியங்கள் தீட்டப்பட்டிருப்பதாகத் தெரியவருகின்றது.

இக்காலத்தில் கலைத்துறையிலும் கட்டடக் கலையிலும் மிகவுயர்ந்த தரத்தையுடைய நிர்மாணங்கள் அனுராதபுரத்தில் மாத்திரமின்றி நாடு முழுவதும் உருவாக்கப்பட்டமை பல்வேறு ஆதாரங்களின் மூலம் நிரூபிக்கப்படுகின்றது.

இக்காலகட்டத்தில் புழக்கத்திலிருந்த நாணயம் பற்றி ஆராயும்பொழுது, சிறப்பாக ரண் கஹவனு (பொற்காசு) பற்றிக் குறிப்பிட வேண்டும். ரண் கஹவனு எனப்படும் பொற்காசு கி. பி. எட்டாம் நூற்றாண்டிலிலிருந்து பதினோராம் நூற்றாண்டு வரை புழக்கத்திலிருந்த நாணய வகை ஒன்றாகும். இதே வகையைச் சேர்ந்த நிறை குறைந்த நாணயங்களும் உண்டு. தீவில் ஆங்காங்கே இவ்வாறான பொற்காசுகள் கண்டெடுக்கப்பட்டுள்ளன. அபயகிரி தானசாலைக்குக் கிழக்கில் அமைந்துள்ள சங்காராம குளத்தைத் தோண்டியபோது அங்கு வடமேல் கரை வரம்பில் புராதன பட்டறையொன்றின் சிதைவுகள் காணப்பட்டன. அங்கு (சுவர்ண பலக பிண்ட) ஐந்து தங்கப் பாளங்களும், இருபத்திரண்டு ரண் கஹவனுக்களும் கிடைத்தன. இந்தத் தங்கப் பாளங்களில் 8-9 ஆம் நூற்றாண்டுகளைச் சேர்ந்த சிங்கள எழுத்துக்களால் அவற்றின் நிறை குறிப்பிடப்பட்டுள்ளன. மிகப்பெரிய தங்கப் பாளத்தில் "நூற்றிரண்டு கழஞ்சு"



(எக்கசிய தெகலந்த) எனக் குறிப்பிடப்பட்டுள்ளது. குளத்துக்கு கிழக்குத் திசையிலுள்ள இடத்தில் பொற்காசுகளைத் தயாரிக்கும் வெண் களிமண்ணால் செய்யப்பட்ட நாணய அச்சும் காணப்பட்டுள்ளது. இந்த நாணய அச்சும் கி. பி. சுமார் 9 ஆம் நூற்றாண்டைச் சேர்ந்ததாகும். இப்பொற்காசின் முன்பக்கத்திலும், பிற்பக்கத்திலும் குறிப்பிடப்பட்டுள்ள குறிப்பும், அடையாள அச்சும் கி. பி. 9 ஆம் நூற்றாண்டைச் சேர்ந்தவையாகும். நாணயத்தின் முன்பக்கத்திலும், எதிர்ப்பக்கத்திலும் குறிப்பிடப்பட்டுள்ள குறிப்பையும், அடையாளத்தையும் நிர்மாணிப்பதற்காக இரு மூடிகளைக் கொண்டு அமைக்கப்பட்டுள்ள அச்சினுள் உருக்கிய தங்கத்தை நிரப்புவதற்கு புனலைப் போன்ற உருவத்தையுடைய சிறு துவாரம் காணப்படுகின்றது.

பொற்காசைப் போன்றே பொன் ஆபரணங்களின் நேர்த்தியான செயற்பாட்டின் சான்றுகளும் மற்றும் பலதரப்பட்ட ஆபரணங்களும் அபயகிரி, ஜேதவன விகாரை அகழ்வுகளிலிருந்து கண்டெடுக்கப்பட்டுள்ளன. அபயகிரியிலிருந்து கிடைத்த மாங்காய் வடிவிலமைந்த உலோகப் பெட்டகத்திலிருந்து பொற்கொல்லருக்குச் சொந்தமான பூரணப்படுத்தப்படாத பொன் ஆபரணங்கள் சிலவும் பெறப்பட்டன. இவற்றுக்கிடையேள தங்கத்தாலியும் நூலைப் போன்ற நுண்ணிய சிறந்த வேலைப்பாடமைந்த தங்க மாலையும் காணப்பட்டன. அத்துடன் மிக நேர்த்தியான வேலைப்பாடுள்ள பொன் வளையலும், காற்சிலம்புகள் இரண்டும் அபயகிரியிலிருந்து பெறப்பட்டுள்ளன. ஜேதவனாராமைத் தொகுதியிலிருந்தும் மிகச் சிறந்த வேலைப்பாடுள்ள பொன் ஆபரணங்களும் கண்டெடுக்கப்பட்டுள்ளன. அறிஞர்கள் சிலர் இவ்வாபரணங்கள் போதிசத்துவரின் உருவ அலங்காரத்துக்காக அமைக்கப்பட்டிருக்கலாமெனக் கருதுகின்றனர். பொன் ஆபரணங்கள் மாத்திரமின்றி களிமண், பவள, கண்ணாடி மணிகள், கனேலியன் பவள மணிகள் என்பன பெருந்தொகையாக அநுராதபுர அகழ்வுகளிலிருந்து கண்டெடுக்கப்பட்டுள்ளன. இவையனைத்தும் அக்கால சிற்பக் கலைஞர்களின் கலைத்திறனை வெளிப்படுத்துகின்றன.

இலங்கையின் நீர்ப்பாசனத் தொழில்நுட்பத்தின் உச்சக்கட்டம் தெரியவருவது பிற்பட்ட அனுராதபுர யுகத்திலாகும். இரண்டாம் முகலன் மன்னன் (கி. பி. 532-551). முதலாம் அக்ரபோதி மன்னன் (கி. பி. 571-604). இரண்டாம் அக்ரபோதி மன்னன் (கி. பி. 604-614), இரண்டாம் மகிந்தன் (கி. பி. 777-797), இரண்டாம் சேனன் (கி. பி. 853-887), இரண்டாம் உதயன் (கி. பி. 887-898) ஆகியோர் பிற்பட்ட அனுராதபுர காலகட்டத்தில் நீர்ப்பாசனத் துறையில் மிகச் சிறந்த பணியாற்றிய மன்னவர்களாவர். கங்காதட்டவாபி எனப்படும் கங்கதலாவெவ (கந்தளாய்), கிரிதட்ட வாபி எனப்படும் கிரிதலே வெவ, எரெண்டகல்ல வாபி அல்லது எண்டேரகல வெவ என்பன பூரணப்படுத்தப்பட்டது இரண்டாம் அக்ரபோதி மன்னன் காலத்திலாகும். இந்த காலட்டத்தில் அப்பொழுதிருந்த வாவிகளையும், நீர்ப்பாசனக் கட்டமைப்புகளையும் பல மன்னர்கள் புனரமைத்தார்கள். நாலாம் மகிந்த மன்னன் (கி. பி. 956-972) சீரழிந்த வாவிகளைப் புனரமைத்து, இலங்கை நீர் வளத்தைக் கொண்டு உணவுத் தட்டுப்பாட்டைச் சீர்செய்தான் என வரலாறு

கூறுகின்றது. இக்காலத்தில் இலங்கையின் நீர்ப்பாசனத்துறை மிகச் சிறந்த முறையில் உயர்ந்த கைத்தொழில் வல்லுநர்களால் கையாளப்பட்டது.

இந்தக் காலத்தில் நிலவிய சுத்தம் சுகாதார விதிமுறைகளும் குறிப்பிடத்தக்கவையாகும். "ஜன்டாகரய" எனப்படும் பிக்குமார்களைப் பராமரிக்கும் முறை இங்கு விசேடமாகக் குறிப்பிடப்பட வேண்டியதாகும். வயதுமுதிர்ந்த மற்றும் நோய்வாய்ப்பட்ட பிக்குகளுக்கு வெந்நீர் குளியலுக்கென அமைந்த இந்தக் கட்டடம் பிரபல்யமான பிக்குமார் வசிப்பிடங்களில் இருந்தது தெரியவருகின்றது. அனுராதபுர ஆராமைகளெனப்படும் பௌத்த பிக்குமார் தங்குமிடங்களுக்கு அப்பால் ரிட்டிகல, அரங்கெலே ஹத்திகுட்டி விகாரை ஆகிய இடங்களில் இவ்விதமான "ஜன்டாபர" தொகுதிகள் அமைக்கப்பட்டிருந்தன. வெந்நீர் தவிர, மருந்துவகைகளை அரைக்கும் அம்மிகள் இங்கு காணப்படுகின்றன. சிறுநீர் கழிப்பதற்கெனப் பின்பற்றப்பட்டிருந்த வழிமுறை ஆரோக்கியப் பற்றாளர்களின் கவனத்தை ஈர்த்துள்ளது. மலகூடங்களும் சிறுநீர்க்கூடங்களும் வெவ்வேறாக நிர்மாணிக்கப்பட்டிருந்தன. கழிக்கப்படும் சிறுநீர் தரைக்கு விடப்படும் போது அது சுத்த நீராகக் கசியும் வகையிலான ஏற்பாடுகள் செய்யப்பட்டிருந்தன. சிறுநீர்க்கூடக் கல்லிலிருந்து வெளியேறும் சிறுநீர், ஒன்றின் மீது ஒன்றாக அடுக்கப்பட்டிருக்கும் முட்டிகளுக்குள் செலுத்தப்படும். இவ்விதமாக வடிக்கப்பட்ட சிறுநீர் ஆழமான குழிகளுக்குள் விடப்படும் அக்காலத்தில் சுத்தம் சுகாதரத்தின் மீது விசேட சிரத்தை காட்டப்பட்டது இதிலிருந்து புலனாகின்றது.

ஒட்டுமொத்தமாக இவற்றைக் கவனிக்கும்பொழுது காலத்துக்குக் காலம் ஏற்பட்ட ஆக்கிரமிப்பு, கலவரம், அமைதியின்மை என்பவற்றுக்கிடையேயும் பல்லாண்டு காலமாகப் பொசிந்துவந்த உயரிய பண்பாட்டுப் பாரம்பரியம் உச்ச கட்டத்தை எட்டியது பிற்பட்ட அனுராதபுர யுகத்தின் பொழுதாகும். 15 நூற்றாண்டு நீண்டகால யுகத்தில் வளர்ந்த இந்த பண்பாட்டு 11 ஆம் நூற்றாண்டில் சீரழிந்தது. உள்நாட்டுப் பூசல்களாலும், கி. பி. 993 ஆம் ஆண்டு நிகழ்ந்த சோழர் ஆக்கிரமிப்புக் காரணமாகவும் அனுராதபுர யுகம் எனப்படும் இலங்கை வரலாற்றின் பொற்காலம் முடிவுற்றது. சோழ இளவரசன் பொலன்னறுவையைத் தனது தலைநகரமாக்கியதால் அதுவரை சிங்கள இராச்சியத்தின் தலைநகராக விளங்கிய அனுராதபுரம் பின்தள்ளப்பட்டது.

**மெதிரிகிரி வட்டதாகே**

மெதிரிகிரி விகாரை முன் அனுராதபுர யுகத்திலிருந்து நிலவிவந்த பிரதான பௌத்த குருமார் தங்கும் இடமாகும். கி. பி. 2 ஆம் நூற்றாண்டில் ஆட்சி புரிந்த கனிட்ட தீச மன்னன் (கி. பி. 167-186) மண்டலகிரி விகாரைக்கு பிக்குமார் சார்ந்த செயற்பாடுகளுக்கான மண்டபமொன்றைக் கட்டியதாக மகாவம்சம் குறிப்பிடுகின்றது. இதில் மெதிரிகிரி பற்றிய மிகப் பழைமையான குறிப்பு தென்படுகின்றது. கி. பி. 7 ஆம் நூற்றாண்டில் நாலாம் அக்ரபோதி மன்னன் காலத்தில் மலயராஜ என்பவனால் இங்கிருந்த விகாரைக்கு அலங்காரமான சுற்று சுவரடங்கிய வட்டதாகையை நிறுவியதாகக் குறிப்பிடப்பட்டுள்ளது. இந்த வட்டதாகே பிற்காலத்தில் ஆட்சிசெய்த மன்னர்களால் புனரமைக்கப்பட்டுள்ளது. மண்டலகிரி விகாரை கி. பி. 13 ஆம் நூற்றாண்டு வரை முக்கியத்துவம் வாய்ந்த பௌத்த மத்திய நிலையமாகத் திகழ்ந்துள்ளதாகச் சான்றுகள் உள.

இந்த விகாரைத் தொகுதியில் காணப்படும் மிகச் சிறந்த கட்டடக்கலை நிர்மாணமாக விளங்குவது இந்த வட்டதாகே நிர்மாணமாகும். மத்தியிலேயே சிறிய தாகபயைச் சுற்றி வட்ட வடிவில் உயர்ந்த மேடையில் நிறுவப்பட்டுள்ள இந்த வட்டதாகே, இலங்கையிலுள்ள வட்டதாகே கட்டடங்களிடையே கட்டடக் கலையின் மிகச் சிறந்ததொன்றாகத் திகழ்கின்றது. இந்த அஞ்சல் முத்திரையில் காணப்படுவது தற்பொழுது எஞ்சியுள்ள வட்டதாகேயின் பகுதியும், அந்த வட்டதாகே பற்றி நிகழ்த்தப்பட்ட ஆய்வின் அடிப்படையில் அமைந்த உருவக நிர்மாணமுமாகும்.

**புதுருவகல போதிசத்துவர் திருவுருவமும், இசுருமுனியிலுள்ள அரச குடும்ப செதுக்குச் சிற்பமும்**

இலங்கையிலுள்ள மகாயான சிலைகளிலிடையே புதுருவல கற்பார் மீது செதுக்கப்பட்ட போதிசத்துவர் திருவுருவங்கள் சிற்பக் கலையில் மிகவுயர்ந்த மட்டத்தைச் சார்ந்தவை. பாதி உயர்ந்த பின்னர் சுண்ணக்கலவையால் பூரணப்படுத்தப்பட்டு, வர்ணம் தீட்டப்பட்டு இருந்திருக்கலாமென்ற அடையாளம் தற்பொழுதும் காணப்படுகின்றது. இங்கே காணப்படும் திருவுருவங்களிடையில் அவலோகிதேஸ்வர, மைத்திரி, வஜ்ரபானி போதிசத்துவ உருவங்கள் மூன்றுண்டு. இந்த சிலைகள் கி. பி. 8 ஆம், 9 ஆம் நூற்றாண்டுகளுக்கிடைப்பட்டவை எனக் கருதப்படுகின்றது.

ஆரம்பத்தில் ரன்மசு உயன (பொன்மீன் பூங்கா)வில் இருந்திருக்கலாம் என்றும், தற்பொழுது இசுருமுனி விகாரை அரும்பொருட்காட்சிச்சாலையில் வைக்கப்பட்டுள்ள அரச குடும்பம் என இடம் காணப்பட்ட செதுக்குச் சிற்பம் இலங்கையிலுள்ள உன்னத சிற்பமாகும். குப்த சிற்பக்கலையின் அம்சமாகக் குறிப்பிடப்படும் இந்தச் சிற்பம் வசீகரிக்கும் தன்மை வாய்ந்தது. துட்டகைமுனு மன்னன் தன் அரசியுடன் சாலிய இளவலின் மாளிகைக்குச் சென்று சாலிய – அசோகமாலா, இருவருடனும் அளவளாவும் காட்சியை இச்சிற்பம் காட்டுகின்றதென பேராசிரியர் செனரத் பரணவித்தான குறிப்பிடுகின்றார்.

**ரண் கஹவனு (பொற்காசுகள்) நாணய அச்சு மற்றும் சுவர்ண பலக பிண்டம்**

பொற்காசு (ரண் கஹவனு) கி. பி. 8 ஆம் நூற்றாண்டிலிருந்து 11 ஆம் நூற்றாண்டு வரை இலங்கையில் புழக்கத்திலிருந்த நாணய வகையாகும். ரண் கஹவனு என்ற பெயரில் சிறிய பொற்காசு வகையும் புழக்கத்திலிருந்துள்ளது. கஹவனுவின் (1/2)

பாதி, அரை கஹவனு எனவும், கஹவனுவின் (1/4) கால், "பலய" எனவும், கஹவனுவின் (1/8) "அக்க" எனவும் அழைக்கப்பட்டுள்ளது. இவற்றில் "அக்க" காசு கி. பி. 15 ஆம் நூற்றாண்டு வரை பாவனையில் இருந்தமைக்கான சான்றுகள் காணப்படுகின்றன. நாணயத்தின் முற்பக்கத்திலும் பிற்பக்கத்திலும் குறிப்பிடப்பட்டிருந்த குறிப்புகள் பற்றியும், முத்திரை பற்றியும் முரண்பட்ட கருத்துகள் வெளியிடப்பட்டுள்ளன. எந்த நாணயத்திலும் வெளியிடப்பட்ட வருடமோ, அரசனின் பெயரோ பொறிக்கப்படவில்லை. இந்த நாணயம் இரண்டு மூடிகளாகத் தயாரிக்கப்பட்ட களிமண் அச்சில் உலோகத்தை உருக்கித் தயாரிக்கப்பட்டுள்ளது.

"சுவர்ண பலக பிண்ட" என அறிமுகப்படுத்தப்படுவது அபயகிரி அகழ்வின்போது கிடைக்கப்பெற்ற தங்கக்கட்டிகள் சிலவாகும். இவற்றின் நிறை அதிலேயே குறிப்பிடப்பட்டுள்ளது. இக்கட்டிகள் பொன்னாலானவற்றை நிர்மாணிக்கப் பயன்படுத்தப்பட்டதாகக் கருதப்படுகின்றது.

**சிறுநீர்க்கூடக்கல்**

பௌத்த குருமார்களிடையே பாங்சகுலிக எனப்படும் பிரிவைச் சேர்ந்த பிக்குமார்களுக்காக அமைந்திருந்த பட்டஹிராராம பிரதான வசிப்பிட மண்டபத் தொகுதியைச் சேர்ந்த சிறுநீர்க் கூடக்கல் இதுவாகும். இந்தப் பிரதான வசிப்பிடத்திலுள்ள சிறுநீர்க்கூடக் கல் மாத்திரம் சிற்ப வேலைப்பாடுடன் அமைந்துள்ளது. இது சகல லௌகீக வளங்களையும் துறத்தல் அல்லது அவற்றைத் துச்சமாக மதித்தல் என்பதைக் காட்டுகின்றதென அறிஞர்கள் கருதுகின்றனர்.

சிறுநீர்க்கூடக் குழியாக அமைக்கப்பட்டிருப்பது ஒன்றின்மேல் ஒன்றாக வைக்கப்பட்ட மட்பாண்டங்களாகும். அப்பாண்டங்களில் நிரப்பப்பட்டுள்ள பொருட்களுக்கூடாக வடிக்கப்படும் சிறுநீர் தரையில் ஈர்க்கப்படுவது சுத்த நீராக ஆகும். அக்காலத்தில் சுத்தம் சுகாதாரத்திற்கு அளிக்கப்பட்ட முக்கியத்துவமும், தொழில் நுட்பமும் இதனால் விளங்குகின்றது.

**ஆபரணங்கள்**

அபயகிரியிலிருந்து பெறப்பட்ட இந்த ஆபணரங்கள் அக்காலத்தில் பொன் ஆபரணங்களை அமைக்கும் கலையின் சிறந்த எடுத்துக்காட்டுகளாகவுள்ளன. தாலியுடன் அமைந்த தங்கச் சங்கிலியும், கைவளையல் ஒன்றும், காற்சிலம்பும் இவற்றில் அடங்கும் இவற்றின் நேர்த்தியான வேலைப்பாடு பொற்கொல்லரின் நிர்மாணத் திறனைப் பறைசான்றுகின்றது. மாலை பொன் நூலால் ஆக்கப்பட்டுள்ளது.

பின்னணியிலுள்ள மணிமாலை ஜேத்தவன விகாரைத் தொகுதியிலிருந்து பெறப்பட்டது. இவை அனைத்தும் அனுராதபுர யுகத்தைச் சேர்ந்தவை எனக் கொள்ளப்படுகின்றது.



**தொழில்நுட்ப விபரங்கள்**

| | | | | |
|---|---|---|---|---|
| வெளியிடும் திகதி | : | 2008, செத்தெம்பர் 16 | | |
| இனப்பெறுமதிகள் | : | ரூபா 5.00, ரூபா 10.00, ரூபா 15.00 ரூபா 20.00 மற்றும் ரூபா 30.00 | | |
| வடிவமைப்பாளர் | : | பெசில் குரே (ரூபா 5.00, ரூபா 20.00) காமினி அபேகோன் (ரூபா 10.00, ரூபா 15.00, ரூபா 30.00) | | |
| வடிவம் | : | கிடையானது | | |
| முத்திரை அளவு | : | 60 மி.மீ × 30 மி. மீ. | | |
| அச்சீட்டு செயல்முறை | : | எதிர்ப்படி கல்லச்சுமுறை | | |
| தாளமைப்பு | : | தாளொன்றுக்கு 8 முத்திரைகள் | | |
| துளையீடு | : | 12 | | |
| அச்சாளர்கள் | : | அரசாங்க அச்சுத் திணைக்களம், இலங்கை | | |
| பாவிக்கப்பட்ட நிறங்கள் | : | 4 நிறங்கள் | | |
| தாள் | : | 102 ஜி. எஸ். எம். பாதுகாப்பான முத்திரைத்தாள் | | |
| பசை | : | பிவிஏ | | |
| அச்சடித்த தொகை | : | 5.00 | - | 1,000,000 |
| | | 10.00 | - | 500,000 |
| | | 15.00 | - | 1,000,000 |
| | | 20.00 | - | 500,000 |
| | | 30.00 | - | 500,000 |
| கொடுப்பனவு அட்டை | : | 2000 | | |
| விற்பனை செய்யப்படும் கடைசித் திகதி | : | 15.09.2009 | | |

**முன்னைய வெளியீடு :**

ஊழியர் சேமலாப நிதியம் - 2008.09.11

Department of Posts,
Postal Headquarters,
D. R. Wijewardane Mawatha,
Colombo 01000.

The Philatelic Bureau of the department of Posts will issue 5 new postage stamps in the denominations of Rs.5.00, Rs. 10.00, Rs.15.00, Rs. 20.00 and Rs. 30.00 depicting the various phases and features of the late Anuradhapura period on the 16th September 2008, as the 3rd in the series of stamps depicting the historical heritage and features of Sri Lanka by the name of "Ancient Sri Lanka".

Stamps issues of the 'Ancient Sri Lanka' Stamp series issued under the first and second phases, associated with the pre-historic, proto historic, and early Anuradhapura periods, portrayed the manner in which the Sri Lankan generations one hundred and twenty five thousand years (125,000) ago gradually enriched their life styles and embraced the golden cultural heritage of the Anuradhapura Era, utilizing their thought fullness to its maximum. Many revelations have been made at the Batadombalena, Kitulgala Belilena, Pahiangala Lena sites, relating to how the pre-historic man marched forward to success mobilizing their thoughtfulness. Horton plains provided evidence relating to agricultural lands in the new Stone Age.

The evidence so gathered revealed that the primeval man, who lived 15,000 years before, familiarized themselves with agriculture. In the proto-historic era they embarked on the use of Iran and proceeded successfully in a spiritual, economic, political and social background, with the capital of Anuradhapura as the nucleus. The Aryan invasions in 6th century A.D. also contributed in this regard. It has also been revealed that the Lankans inherited an advanced system of irrigation in the early Anuradhapura period.

When the post Anuradhapura period is compared with the earlier era it is observed that it was a period of chaos as a result of repeated South Indian invasions. The internal revolts and weak administration also was a fact. There was peace during the reign of some kings. In such circumstances, arts and crafts, architecture and irrigation also flourished, attaining maturity. The arts and crafts and architectural creations which gradually advanced during the early Anuradhapura period achieved exemplary status in the post Anuradhapura period. Mr. Brohier has pointed out that the irrigation techniques also reached its supreme level in this period.



The post Anuradhapura period can be considered as an era during which exceptional architectural creations came into being. But, it is also observed that timber which was extensively used for architectural creations was replaced by brick and stone. New architectural patterns adorned the buildings.

Image houses were also given a new and complex look. It was also during the Anuradhapura era the spire of the stupa which then existed was converted into a pinnacle. The Thupaghara and Bodhighara were special among them. It was later seen that Thupaghara or the Vatadage was given an ornamental finish. The Medirigiriya Vatadage, Thiriaya Vatadage can be quoted as examples.

This era saw a trend in Mahayana Buddhism expanding. In most Buddhist Arama complexes, Bodhisatva statues were constructed with the inculcation of Bodhisatva veneration in the minds of Lankans. It was in the Post Anuradhapura period that Bodhisatva images were erected island wide, ranging from mini metal statues to colossal stone images. But of such structures, statues found at Buduruvagala, Dambegoda, Kushtarajagala, Veherevagala sites are outstanding.

It has also been revealed that Padhanaghara (Piyangal), a set of unique Aramaya complexes mainly for the benefit of forest hermits or Pansakulika Bhikkus came into being during the Anuradhapura period. The building complexes thrown as Western Monastery situated adjacent to the cemetery within the city during the early Anurdhapura period belong to this era. An Aramaya for the 'Pansakulika' Bhikkus was firstly constructed by King Manawamma (684 – 718 AD). Such Aramayas built mainly to suit an austere life are totally not of a sophisticated nature. In this Aramaya's carvins have been made on urinal stones, which depict the view that shedding of all comforts and pleasures or considering them with contempt was adopted. Padhanaghara complexes have been found at Ritigala, Arankele, Hattikuchchi Viharaya, Manakanda, Gurulupotha, outside the Anuradhapura city.

Out of the artistic creations visible today at Anuradhapura city, most exemplary works of art belong to the Anuradhapura era. Moonstones complete with carvings, Guard stones and Dwarf stones are all creations of this period. The Ratnaprasada guards stones, the charming moon stones merely and dwarf stone creations complete with carvings, close to Thuparamaya are creations belonging to the post Anuradhapura era. These works of art depict Gupta and Pallava,

influences in the styles of art. Plaques at Isurumunia identified as the 'Lovers' and the 'Royal Family' are such examples.

Wall paintings representing Post Anuradhapra period have been founded at several venues of the Island. Wall paintings belonging to the 5th century – 11th century A.D have been found at several venues at Pulligoda, Mahiyangana relic chamber, Maraweeediya, Wessagiriya, Gonagolla, Karambagala, Kotiyagala, Caves at Sigiriya and Situlpawwa.

Evidence from each and every corner of the Island, state that works of art depicting the supreme phase of artistic and architectural progress are witnessed not only in Anuradhapura but throughout the whole country.

When investigating into the currency in use the Gold Coin (Ran Kahavanu) needs special mention. This type of Rankahavanu had been in existence from 8th century AD to 11th century AD. Other smaller type of coins lesser is weight, have also existed.

Gold coins have been excavated at several venues of the country, and those found at excavations in Abhayagiriya are of a unique nature. During excavations done at the Pond at the Sangaramaya to the east of the Abhayagiriya Dana Salawa, ruins of an ancient factory have been found at the north western bank of the pond. Five gold plaques and 22 gold coins had been found. On all these gold articles the weights have been indicated the Sinhala syllables of the 8th – 9th centuries. The largest one carries the terms 'Hundred and two Kalanda's at a venue to the east of the pond coin moulds made of clay used in the manufacture of coins have been found. These moulds also belong to the 9th century AD; notes and symbols on the obverse and reverse sides of the coin have been indicated utilizing the coin moulds complete with two lids and a tiny opening in the pattern of a funnel for the purpose of pouring the melted gold into the coin moulds.

Gold coins as well as various types of Jewellery and exemplary factors relating to the manufacture of Jewellery have been discovered at the Abhayagiriya and Jetavana excavations: a whole lot of unfinished gold articles of a Jewellery manufacturer have been found in a metal container in the shape of a mango, at Abhayagiriya premises. Gold chains and a chain of an excellent quality made of gold thread were some of the items. A gold bangle with delicate carvings and two foot ornaments have been found at Abhayagiriya. At the Jethawanarama Complex



too, parts of gold Jewellery with delicate carvings have been recovered. Some scholars state that they are ornaments used for Bodhisatva statues. Apart from such Jewellery items the Anuradhapura excavations have brought to light, clay beads, glass beads, beads made of carnelian in large quantities. These items bear ample proof pertaining to the artistic talents and skills of the then artists.

The irrigation technology of the country reaches its climax during the post Anuradhapura period. King Mugalan II (532 – 551 AD) King Agrabodhi I (571 – 604 AD) King agrabodhi II (571 – 604 AD) King Mahinda II ( 777 – 797 AD) King Sena II ( 853 – 887 AD) and King Udaya II are Kings who rendered yeoman service relating to irrigation works in the post Anuradhapura period. Gangathatavapi alias Gangathalawewa ( Kantalai), Girithara Vapi alies Giritale Vewa, Erandagalla Vapi alias Enderagala Wewa were constructed by King Agrabodhi II. During this era most of the kings paid much concern in the renovation of tanks and irrigation systems. King Mahinda IV (956 – 972 AD) attended to the renovation of ruined tanks and it is mentioned that the water collected through such renovations paved the way to overcome the famine which prevailed during the times. Irrigation remained a work of excellence with the high technical know how can irrigation works, possessed by those concerned.

The health and sanitation patterns which existed during this age should also be considered with much significance. The 'Janatagara' needs special mention. This structure mainly was for the purpose of providing hot water baths for the elderly and ailing Bhikkus. Such structures can be seen in several Buddhist Sangaramas. Apart from the Sangarama complexes in Anuradhpura, such "Janatagara" had been erected at Ritigala, Arankele, Haththikuchchi Viharaya venues. In addition to the hot water facility, there were grinding stones for the grinding of various medicinal items. Eco-friendly systems were in existence relating to sanitary needs. Urinals and latrines were separately maintained.

When erecting urinals a system was adopted where by the urine released was linked with the soil as pure water. Urine passed flowed through a set of pots placed one upon another. The urine so filtered flowed directly into the deeper soil layer. This bears ample proof, that health and sanitarian was considered with much regard.

On the whole, although chaos prevailed during the Anuradhapura era, as a result of repeated invasions, the outstanding cultural status culminated during this age.

The said cultural heritage which progressed through the long fifteen century period degenerated during the 11th century. With the internal conflicts and the Chola invasion during 993 AD, the Golden age in the history of the country, the Anuradhapura period declined. The king made Polonnaruwa his capital and as such the long standing capital of Anuradhapura faded away.

**Ancient Sophisticated Technology and Technique: Middle age Gold Coin, its mould and gold ingot used for manufacturing gold coin**

Ran Kahavanu is a type of coin used in Ceylon from 8th century AD to the 11th century AD. Half of the Kahavanu (1/2) was identified as "Half Kahavanu" and (1/4) quarter of the Kahavanu was identified as "Deaka Alias Palaya" and 1/8 of the coin was indentified as "Aka" Information gathered reveal that the "Aka" coin had been in use up to almost the 15th century. Doubts have been raised with regard to symbols and notes on the obverse and reverse of the coins. The date of issue and the name of the king are not indicated in any of the coins. The coins have been manufactured by pouring melted gold into a clay mould made in the form of two lids.

Several lumps of gold recovered at the Abhayagiriya excavations are identified as "Gold tablets" (Swarna Palaka Pinda).

The weight has been indicated in the coins. The recovery of twenty two gold coins along with five "Swarna Palaka Pinda" (Gold Tablets) makes one believe that these lumps had been used in the manufacture of gold coins.

**Architecture : Medirigiriya, Vatadageya and its conjectural drawing**

The Meidirigiriya Viharaya has been a prominent Buddhist Sangarama in existence from the early Anuradhapura period. The most ancient source of information relating to Medirigiriya is the Mahavamsa indication that King Kanittatissa built a Simamalaka for the Mandalagiri Viharaya in 2nd century AD (167 – 186 AD) mention is also made that in 7th century AD. During the reign of King Agrabodhi IV a person named Malayarasa had erected an attractive Watadage for the stupa which existed there. This Watadage had been renovated by several kings who reigned later. It is also revealed that the Mandalagiri Viharaya had been a significant buddhist centre up to 13th century AD.



The most glorious architectural construction is this Vihara complex is considered to be the Vatadageya. The Watadageya erected on an elevated circular dais, encircling the smaller stupas, gains prominence as an excellent architectural structure among all other Watadageyas in existence. This stamp depicts the remnants of this Watadage, and a creative design of the original nature of the Watadage, determine after an extensive study.

**Sanitation, Living standard and Conservation of Environment: Urinal stone at Western Monasteries in Anuradhapura and cross section of Sanitary system**

This is a urinal stone belonging to the western monastery 'Padhanagara' Complex reserved for Pansakulika monks. In this Padhanagara complex, the only art of carving is the urinal stone scholars are of the view that these carvings made only on the urinal stone reflects the view that all worldly possessions should be shunned or treated with contempt.

The Pit of the Urinal stone is formed by placing three large terra-cotta pots placed one on top of another. The urine is filtered through the fillings in the pots and ultimately drains on to the soil as pure water. The priority placed in such ancient times on Health and Sanitation and the technology used can be considered as superb.

**Jewellery : Bangle, Necklace with a Pendent, Anklet and Teerracotta beads Necklace**

The jewellery recovered at Abhayagiriya is fabulous creations which portray the expertise in jewellery manufacturing. A necklace with a pendant, a bangle and foot ornaments are included. The fine and delicate carvings herein depicts the excellent creative ability of the sculptor. The necklace is made of gold thread.

The necklace adorned with clay beads shown in the background, was gathered from the Jetawana Vihara complex. All these belong to the post Anuradhapura period.

**Art & Sculpture : Bodhisatva Vajrapani and Avalokithesvara at Buduruwagala and Sculpture of Royal Family at Isurumuniya**

The Buduruvagala Bodhisatva Statue carved on a mountain, remains an exemplary carving among the Mahayana statues in Sri Lanka. The present

remnants provide evidence that the statue was plastered and stained later. Depicted here are the Avalokatheshwara Maithriya and Wajrapani Bodhisatva triad in existence among other statues. The statues are considered to be belonging to the $8^{th}$ – $9^{th}$ centuries AD.

The carved tabled identified as the 'Royal Family' at present exhibited at the Isurumuniya Vihara Museum, originally said to have been in the Ranmasu Uyana is a superb piece of carving in the Island. These carvings depicting the Gupta style of sculpture are extremely charming. Professor Senarath Paranavithana is of opinion that the carving portrays King Dutugemunu with his queen in conversation with Saliya – Asokamala in the palace of prince Saliya.

**Details of the Issue**

| | | |
|---|---|---|
| *Date of Issue* | : | $16^{th}$ September 2008 |
| *Denominations* | : | Rs.5.00, Rs.10.00, Rs.15.00, Rs.20.00, and Rs.30.00 |
| *Designers* | : | Basil Coory (5.00,20.00) |
| | | Gamini Abeykoon (10.00,15.00,30.00) |
| *Stamp Size* | : | 60 mm x 30 mm |
| *Format* | : | Horizontal |
| *Printing Process* | : | Offset Lithography |
| *Sheet Composition* | : | 8 Stamps per sheet |
| *Perforations* | : | 12 |
| *Printers* | : | Department of Government Printing, Sri Lanka. |
| *Colours* | : | 4 Process Colours |
| *Paper* | : | 102 gsm. Security Stamp Paper |
| *Gum* | : | PVA |
| *Quantity Printed* | : | Rs.5.00 - 1,000,000 |
| | | Rs.10.00 - 500,000 |
| | | Rs.15.00 - 1,000,000 |
| | | Rs.20.00 - 500,000 |
| | | Rs.30.00 - 500,000 |
| *Présentation Pack* | : | 2000 |
| *Last Date of Sale* | : | 15.09.2009 |

**Previous Issue:** Employee's Provident Fund, 11.09.2008